

බොහොම ඉස්සර කාලෙ කුකුළගෙ වලිගය බොහොම ලස්සනට දිගට වැඩිලා තිබුණා. දේදුන්න වගේ පාට කීපයකට ම අයිති පිහාටු උගේ වලිගය පුරාම තිබුණා. මෙනරාට තිබුණෙ අවලස්සන වලිගයක්. ඒක වලිගයක් නොවෙයි වලිග කොටයක්.

කුකුළාව රවටලා උගෙ වලිගය ලබා ගන්න ඕනැයි කියල මොනරා සිතුවා.

දවසක් දා මොනරා කුකුළව හමු වෙන්ට ඇවිල්ලා මෙහෙම කිව්වා:

"කුකුළු රාළහාමි! මට රාළහාමිගෙ වලිගය පොඩ්ඩකට දෙන්න. මඟුල් ගෙදරකට යන්න ඕන. ඒ හන්දා ලස්සනට ඇඟ පැළඳ ගන්ට ඕන නෙව."

“නුඹට පිස්සු ද? වලිගය එහෙම දෙන සිරිතක් තියෙනවද?” කුකුළා ඇසුවා.

“මම ආපහු රාළහාමිට ගෙනැවිත් දෙන්නම්” කියල මොනරා පොරොන්දු වුණා.

“කවදට ද ගෙනැවිත් දෙන්නෙ?”

“මඟුල් ගෙදරින් ආ හැටියෙම” මොනරා කීවා.

“මඟුල් ගෙදර ඉවර වුණ හැටියම. හවසට, නැතිනම් රෑ යාමෙට. සමහර විට පහුව දා එළිය වැටෙන කොට.” මොනරා පැහැදිලි කළා.

“උදේ එළිය වැටෙන්න ඉස්සෙල්ලා වරෙන්. නැතිනම් කිකිළියො මට සරදම් කරාවි.” කුකුළා කිව්වා.

මොනරා කුකුළගෙ වලිගය පැළඳගෙන, සැරසිලා මඟුල් ගෙදරට ගියා.

කුකුළා වගිලය නැතිව ලැගලා මොනරා එනතෙක් නොඉවසිල්ලෙන් බලා ඉන්නවා. ඉර බැහැලා ගියා. හවස් වුණා. මොනරා ආවේ නැහැ.

කුකුළා වැට උඩට නැගලා කෑ ගැසුවා, කෑ ගැසුවා. මොනරා ආවේ නැහැ. “මඟුල් ගෙදර ජයට කෑම බීම ඇති” කියලා කුකුළා හිතුවා. කිකිළියො නිදාගන්ට ගියා. කුකුළා නිදි කිරා වැටි වැටී වලිගය ගැන කල්පනා කළා. දැන් හොඳටම රෑ වෙලා. ඇහැට පේන්නෙ නැති තරම් අඳුරුයි. “මොනරාට පාර වැරදුනොත් මගෙ වලිගෙට මොනවා වේ ද?” කුකුළා නැවත කල්පනා කළා. කුකුළා නින්දෙන් අවදි වෙලා මොනරාට කතා කළා. මොනරා ආවේ නැහැ.

ආපහු කුකුළා නිදි කිරා වැටෙන්න පටන් ගත්තා. කුකුළාට තමාගේ වලිගය ගැනමයි හිතෙන්නේ. “මඟුල් ගෙදර ඉඳලා රෑ යාමෙට එන මොනරාට පල් හොරු පහර දුන්නාද දන්නේ නැහැ” කියලා කුකුළා කල්පනා කළා.

හිමිදිරි පාන්දර කුකුළා අවදි වුණා. මෙනරා ඇවිල්ලද? නැහැ! කුකුළා හඬලෑවා.

"කොක්කො-කෝ-කෝ! මොනර හාමි! මෙහෙ වරෙන්!"

මොනරා පළාතකවත් හිටියේ නැහැ. ඌ ඉන්දියාවට පැනලා ගිහින්.

මේ සිද්දිය වුණේ බොහොම ඉස්සර කාලෙ. ඊට පස්සෙ කුකුළාට නැවත වලිගයක් වැඩුණා. නමුත් ඒ වලිගෙ ඉස්සෙල්ලා තිබුණු එක තරම් ලස්සන නැහැ. කුකුළා තවමත් තමාගෙ වලිගය ගැන හිතනවා.

එදා ඉඳලා කුකුළා හැමදාම හිමිදිරි පාන්දර තුන් වරක් හඬලනවා. තමාගේ ලස්සන වලිගය ගෙනැවිත් දෙන්ටයි කියල කුකුළා මොනරාගෙන් ඉල්ලා හිටින්නෙ ඔය විදිහට තමා.





මේක සිද්ද වුණේ බොහොම ඉස්සර. ඒ කාලෙ සත්තු මිනිසුන් වගේ කතා කළා. ඉඳ හිටලා ගස් පවා කතා කළා.

ලොකු නයෙක් බිමට කඩා වැටුණු ගහකට යටවෙලා හිටියා. ගහේ බර නයාට උහුලාගන්ටවත් බැහැ. නයා දැඟලුවා, ඇඬුවා, සුසුම් ලෑවා. පාරෙ ගමන් කරමින් හිටිය ගොවියෙකුව නයා දැක්කා.

නයා ගොවියාට කතා කළාඃ

"අනේ රාළහාමි, මේ ගහ ඉවත් කරල මාව නිදහස් කරන්න. ඕනෑම වෙලාවක මම රාළහාමිට උදව් වෙන්නම්"

ගොවියාට දුක හිතුනා. ගහ ඔසවා නයාව නිදහස් කළා. නයා විසකුරු සතෙක්. නිදහස් වුණු හැටියෙම නයා ගොවියාගේ බෙල්ල වටේ එතුණා. ගොවියාට හොඳටම අමාරුයි.

"දැන් ඉතින් මම නුඹට දෂ්ට කරන්නම්" නයා ගොවියාට කිව්වා.

"නයාගේ උදව්ව ඔහොම තමා"

එවිට ගොවියා නයාට කතා කරලා මෙහෙම කිව්වාඃ

"නයා. නුඹට ලැජ්ජා නැති හැටි! නුඹ නපුරු සතෙක්. මම නුඹව මරණයෙන් නිදහස් කළා. නුඹ දැන් මාව මරන්ට හදනවා"

"මම විසකුරු සතෙක්. නුඹට දස්ට කරනවා" කියලා නයා ගොවියාව බය කළා.

"එහෙම බැහැ. අපි දෙදෙනාම නඩු කාරයෙක් ළඟට යමු. නඩුව ඔහුට කියමු. නඩුකාරයා දෙන තීන්දුව පිළිගනිමු. පළමුවෙන් ම මුණ ගැසෙන එක්කෙනාට අපි නඩු කියමු." ගොවියා කිව්වා.

නයා එකඟ වුණා. මිනිහයි, නයයි කැලෑවේ ගමන් කළා. මුණ ගැසුණේ කාවද? හිවලාව. දෙදෙනාම හිවලාට නඩුව කිව්වා.

"හිවල් හාමි. නුඹ මේ නඩුව අහපන්. හැබැයි බොහොම සාධාරණ ලෙස අවංකව නඩු තීන්දුව දීපන්" ගොවියා හිවලාට කිව්වා.

"හොඳයි මම නඩු අහන්නම්. හැබැයි නුඹලා කියන දේ මට තේරුම් ගන්ට බැහැ. ඔය දේ වුණු හැටි මට පෙන්නපල්ලා. එතකොට මම තීන්දුව දෙන්නම්" කියලා හිවලා කීවා. "නුඹලා අතර විවාදය ඇති වුණ තැනට යමු!"

නයා ගහට යටවෙලා හිටිය තැනට තුන් දෙනාම ආවා. නඩුකාර හිවලා මෙහෙම කිව්වා.

"දැන් ඉස්සෙල්ලාම හිටිය විදිහට හිටපන්"

ගොවියා ගහ නයාගේ ඇඟ උඩට දමලා ඌව ගහට යට කළා. නඩුකාර හිවලා නයාට කතා කළා:

"නුඹ විසකුරු නයෙක්. දැන් ඉතින් නුඹට පුළුවන් හැටියට නිදහස් වෙයන්. ඔන්න මගේ නඩු තීන්දුව"

ගොවියා බොහොම සතුටු වුණා.

"සාධාරණ විදිහට නඩුව විසඳුවාට නඩුකාර තුමාට බොහොම ස්තුතියි" කියලා ගොවියා කිව්වා.

"නුඹේ ස්තුතිය පමණක් මට මදි. නඩුව විසඳුවට මල්ලක් පුරා කෑම ගෙනැවිත් දීපන්" කියලා හිවලා කිව්වා.

ගොවියා පුදුම වුණා.

"එහෙම පොරොන්දුවක් වුණේ නැහැ නෙවද?" කියල ඔහු ඇසුවා.

"ඒ වුණාට මල්ලක් පුරා කෑම දීපන්!" හිවලා ඉල්ලා සිටියා

"ඔන්න හිවලගෙ හැටි. කපටි හිවලාට යස පාඩමක් උගන්වන්ට ඕන" කියලා ගොවියා කල්පනා කළා.

"යමු අපේ ගෙදරට, මම නුඹට මල්ලක් පුරා කෑම දෙන්නම්" ගොවියා හිවලාට කිව්වා.

ගොවියා ගෙතුළට ගිහිල්ලා බල්ලන් දෙදෙනෙකුව මල්ල ඇතුළට දමලා මල්ලේ කට බැඳලා හිවලාට දුන්නා.

මල්ල බොහොම බරයි. කුකුළන් ගොඩක් මල්ල ඇතුළෙ අති කියලා හිවලා සිතුවා. "මම ගොවියාට යස පාඩමක් ඉගැන්නුවා" හිවලා සතුටු වුණා.

හිවලා මල්ලත් කර තියාගෙන ගෙදර ගියා. මල්ල ඇතුළෙ තියෙන කෑම මොනවද කියල දැනගනන ලොකු ආශාවක් හිවලට ඇති වුණා.

මල්ල ලිහා බැලුවා විතරයි, ඒක ඇතුළෙ හිටිය බල්ලො දෙන්නා හිවලාව හපන්නයි, සූරන්නයි පටන් ගත්තා. හිවලා පණ බයේ දුවන්න පටන් ගත්තා. යම්තම් පණ බේරාගෙන දුවන්න හිවලාට පුළුවන් වුණා.

ගෙදර ආපු හිවලා තුවාල ලෙවකමින් කල්පනා කළා.

"මගේ සීයත් නඩු ඇහුවේ නැහැ. මගේ තාත්තත් නඩු ඇහුවේ නැහැ. මම නඩු අහන්න ගියේ මොකට ද?"



# නඩු ඇසීම

නව සකැසුම
මාලක ලලනජීව

ISBN 978-955-0230-49-5

ප්‍රකාශනය



අගහස් ප්‍රකාශන

මුද්‍රණය
යස ඉසුරු ප්‍රින්ටර්ස්

ප්‍රථම මුද්‍රණය 2015

